මුද්දර නිවේදන අංක
முத்திரைச் செய்தித்தாள் இல.
**Stamp Bulletin No.** 524

තැපැල් දෙපාර්තමේන්තුව,
ට්‍රාන්ස්වර්ක්ස් මන්දිරය,
කොළඹ 00100.

## සමරු තිකුත් කිරීම
## ஞாபகார்த்த வெளியீடு
## Commemorative Issue




# 100
# 1903 - 2003
# ශුද්ධවූ පවුලේ කන්‍යාරාමය - බම්බලපිටිය
## திருக்குடும்ப கன்னியர் மடம்-பம்பலப்பிட்டி
## Holy Family Convent- Bambalapitiya

**2003.02.03**

**Philatelic Bureau**
Department of Posts,
M. I. C. H. Building, No. 27, Bristol Street,
Colombo 00100,
SRI LANKA.

මුද්දර කාර්යාංශය,
තැපැල් දෙපාර්තමේන්තුව,
යෝ.ඉ.සං.නි.,
අංක 27, බ්‍රිස්ටල් වීදිය,
කොළඹ 00100.

முத்திரைப் பணியகம்,
அஞ்சல் திணைக்களம்,
சோ. இ. க. நி. கட்டடம்,
இல. 27, பிறிஸ்டல் வீதி,
கொழும்பு 00100.

බම්බලපිටිය, ශුද්ධ වූ පවුලේ කන්‍යාරාමයට වසර 100ක් පිරීම නිමිත්තෙන් රු. 4.50ක වටිනාකමින් යුත් නව තැපැල් මුද්දරයක් තැපැල් දෙපාර්තමේන්තුවේ මුද්දර කාර්යාංශය විසින් 2003 පෙබරවාරි මස 03 වැනි දින නිකුත් කෙරේ.

ක්‍රි. ව. 2003 පෙබරවාරි මස 03 වැනි දින ශතකයක් සමරන බම්බලපිටිය ශුද්ධ වූ පවුලේ කන්‍යාරාමය 1903 පෙබරවාරි 03 වැනි දින ඉතා කුඩා පිණි බිඳුවක් ලෙසින් බම්බලපිටිය ග්‍රාමයේ උපත ලැබුවා ය. අද මේ පාසැල ශ්‍රී ලංකාවේ ජනප්‍රිය බාලිකා පාසැල් අතරට එක් වී ඇත්තේ සිය වසරක් පුරා ඇය ලැබූ නොමද දියුණුව ප්‍රකට කරමිනි.

ප්‍රෞඩ ඉතිහාසයකට නෑකම් කියන මේ පාසැලේ නියමුවන් වී ඇත්තේ ශුද්ධවූ පවුලේ කන්‍යා සොයුරියෝ ය. ඔවුන්ගේ පැවිදි නිකාය 1820 දී ප්‍රංශ රටේ ජීවය ලැබුවකි. එහි ආරම්භක පියතුමාණන් වන ප්‍රංශයේ බෝර්ඩෝහි උපත ලද පීටර් බියෙන්වෙනු නෝආයි "හොඳ පියතුමා" ගේ සිහිනය වූයේ සියලුම කැඳවීම්වලට විවෘත වූ විශාල පවුලක් ගොඩනැගීමයි. එතුමෝ මුළු විශ්වයම එක පවුලක් ලෙස ගොඩනගනු සඳහා ආරාධනා කරමින් ජීවිත මග හා ආදර්ශය ලෙස ඉදිරිපත් කර ඇත්තේ නාසරතයේ ශුද්ධ වූ පවුල වූ ජේසු, මරිය, ජුසේ තුමන්ලාගේ ජීවිතය යි.

අධ්‍යාපනය මේ මහා කාර්යයට දායක විය හැකි එක් මගක් ලෙස දුටු එතුමෝ විශේෂයෙන් තරුණ කාන්තාවන්ගේ අධ්‍යාපනය දියුණු කරනු සඳහා විවිධ පියවරයන් ගෙන ඇත. එවකට ප්‍රංශය, ස්පාඤ්ඤය, යුරෝපය හා ඇල්ජීරියාව යන රටවල එතුමාගේ මග පෙන්වීම යටතේ පාසැල් හා කන්‍යාරාම ඉදිකර ඇත.

ශුද්ධ වූ පවුලේ කන්‍යා සොයුරියන්ගේ පළමු ආසියාතික මිෂනාරි සේවාව අරඹා ඇත්තේ ශ්‍රී ලංකාවෙනි. 1861 දී අප රටේ උතුරු ප්‍රදේශය භාරව සිටි සෙමෙරියා රදගුරුතුමා අධ්‍යාපනයට දායක වනු සඳහා කන්‍යා සොයුරියන් ව අප රටට එවන ලෙස පීටර් බියෙන්වෙනු නෝආයි පියතුමාගෙන් ඉල්ලීමක් කර ඇත. ඊට පිළිතුරු දෙනු වස් 1862 දී ප්‍රැන්සිස් සේවියර් මවාන්ඩ් මව්තුමියගේ නායකත්වය යටතේ සොයුරියෝ කුඩා කණ්ඩායමක් ශ්‍රී ලංකාවට පැමිණ ඇත. ඔවුන් රැගත් නෞකාව ගාලු තොටට සම්ප්‍රාප්ත වීමෙන් පසුව උත්සවශ්‍රීයෙන් යාපනය අර්ධද්වීපයට කැඳවාගෙන ගොස් ඇත.

අධ්‍යාපනයට උරදෙමින් යාපනය නගරය හා එහි අවට ප්‍රදේශවලත් කන්‍යාරාම හා පාසැල් විවෘත විය. පසුව ක්‍රමයෙන් ලංකාවේ වෙනත් ප්‍රදේශ කරා ද සොයුරියෝ ව්‍යාප්ත විය.

ඔවුන් උතුරු මැද, බස්නාහිර පළාත්වල පාසැල් ඉදිකළ අතර ඉන් ප්‍රධාන වූයේ කුරුණෑගල, අනුරාධපුරය, වෙන්නප්පුවයි. එසේ ඉදි කළ පාසැල් හා කන්‍යාරාම අතරින් සුවිශේෂ ස්ථානයක් බම්බලපිටිය ශුද්ධ වූ පවුලේ කන්‍යාරාමයට හිමි විය. මේ පාසැල ආරම්භ වී පස් වසරක් ගෙවී ගිය පසු ස්ථිර බිමක එනම් අද පාසැල පවතින ස්ථානයේ ගොඩ නැගීමට ඇරඹුණි. එදා සිට අද දක්වා ම ගෙවී ගිය සෑම වසරකදීම පාසැල සංඛ්‍යාත්මකවත්, අධ්‍යාපනික හා ක්‍රීඩා ක්ෂේත්‍රවලත් ලැබූ දියුණුව ඔවුන්ගේ ජයග්‍රහණවලින් සනාථ වේ.

නූතනයේ ශුද්ධ වූ පවුලේ කන්‍යාරාමය තුළ විවිධ ජාතීන්ට අයත්, විවිධ භාෂා කථා කරන, විවිධ ආගමික විශ්වාසයන්ට අයත් වූවෝ සහෝදරත්වයෙන් බැඳී එකමුතුව ජීවත් වන්නේ සංඝික පාසැලකට කදිම ආදර්ශයක් දෙමිනි. ඔවුන් මෙතෙක් අධ්‍යාපනිකව, ආගමිකව, සංස්කෘතිකව හා ක්‍රීඩා තුළින් ලද ජයග්‍රහණයන් තුළ ඉදිරියට යමින් වාසනාවන්ත, ගුණගරුක, සාරධර්ම සුරකින දරු කැළක් බිහි කිරීමට උණුසුම් මව් සෙවනක් වේවා යි ප්‍රාර්ථනා කරමු.

## මුද්දරය පිළිබඳ විස්තරය

| | | |
|---|---|---|
| නිකුත් කරන දිනය | : | 2003 පෙබරවාරි මස 03 වැනි දින |
| වටිනාකම | : | රු. 4.50 |
| සැළසුම්කරු | : | ජෙරාඩ් ඇන්ඩ්‍රි |
| හැඩය | : | සිරස් |
| ප්‍රමාණය | : | 30 x 41 මි.මි. |
| මුද්‍රණ ක්‍රමය | : | ඕප්සෙට් ලිතෝග්‍රැපි |
| පත් සැකැස්ම | : | පත්‍රිකාවක මුද්දර 100 බැගින් |
| සිදුරු ප්‍රමාණය | : | 14 |
| මුද්‍රණකරුවෝ | : | රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුව, ශ්‍රී ලංකාව |
| වර්ණ (පාවිච්චි කළ) | : | හතරකි. |
| කඩදාසි | : | 102 ජී. එස්.එම්. ආරක්ෂිත මුද්දර මුද්‍රණ කඩදාසි |
| මැලියම් | : | පීවීඒ |
| මුද්‍රණය කළ ප්‍රමාණය | : | 10,00,000 |



அஞ்சல் திணைக்களம்,
திரான்ஸ் வேர்க்ஸ் ஹவுஸ்,
கொழும்பு 00100.

அஞ்சல் திணைக்களத்தின் முத்திரைப் பணியகம், பம்பலப்பிட்டி திருக்குடும்பக் கன்னியர் மடத்தின் நூற்றாண்டைக் குறிக்கு முகமாக ரூபா4.50 இனப் பெறுமதியான முத்திரை ஒன்றை 2003, பெப்புருவரி 3 ஆந் திகதி வெளியிடவுள்ளது.

1903 ஆம் ஆண்டு மாசி மாதம் 3 ஆம் திகதி பம்பலப்பிட்டி திருக்குடும்பக் கன்னியர் மடமானது ஆரம்பிக்கப்பட்டது. அது தனது நூற்றாண்டு விழாவை 2003 ஆம் ஆண்டு மாசி மாதம் 3 ஆம் திகதி கொண்டாடுகிறது. சிறிதாக ஆரம்பிக்கப்பட்டு, நாட்டில் உள்ள முன்னணி பெண்கள் பாடசாலைகளுள் ஒன்றாக வளர்ச்சியடைந்துள்ளது.

இப்பாடசாலை பெருமைமிக்க வரலாற்றைக் கொண்டது. 1820 ஆம் ஆண்டில் பிரான்ஸ் தேசத்தின் பொர்டெக்ஸ்சைச் சேர்ந்த மிகவும் பிரசித்தமானவரும், பரிசுத்தமானவருமான அபே பியறி பெனிலென்னுவர் நொயலிஸ் என்ற இளம் குருவானவரின், திருக்குடும்பச் சபையின் பல கிளைகளை உருவாக்கும் தூரநோக்கமானது செயல்படுத்தப்பட்டது. யேசு, மரியாள், சூசையப்பர் என்ற நாசரேத் திருக்குடும்பத்தின் வாழ்க்கை முறையை ஒத்ததாக முழு உலகத்தையும் ஒரே குடும்பமாக அவர் கண்டார்.

இளம்பெண்களின் கல்வித் தேவையை மிகத்தெளிவாகக் கண்ட அவர், இதற்காக பல பாடசாலைகளையும், மடங்களையும் பிரான்ஸ், ஸ்பெயின் மற்றும் ஐரோப்பிய நாடுகளிலும் அல்ஜீரியாவிலும் ஆரம்பித்தார்.

திருக்குடும்பத்தின் முதல் ஆசிய மறைப்பரப்பும் பணி 1862 ஆம் ஆண்டு, கன்னியாஸ்திரிகளை உள்ளடக்கிய சிறிய குழு ஒன்றினால் ஸ்ரீ லங்காவில் (இலங்கையில்) ஆரம்பிக்கப்பட்டது. கற்பித்தல் பணிக்கு வந்த அவர்களது கப்பல் காலியில் நங்கூரம் இட்டபின், அவர்கள் யாழ் நகர் செல்லும் வரை அவர்களது பயணம் இராஜ பவனியாக அமைந்தது. இலங்கையின் வடக்கு மறை மாவட்டத்தைச் சேர்ந்த மேற்றாணியார் செமீரியாவின்

அழைப்பை அபே நொயலிஸ் தாராளமனதோடு ஏற்றுக்கொண்டார். 1861 இல் அவரது சடுதியான மரணம் காரணமாக அவர்களது பயணம் ஒரு வருடத்திற்கு பிற்போடப்பட்டது. ஆனால் 1862 இல் வணக்கத்துக்குரிய கன்னியாஸ்திரி பிரான்சிஸ் சேவியர் மக்ஹன்டைத் தலைவியாகக் கொண்ட கன்னியாஸ்திரிகளின் சிறிய குழுவொன்று இந்நாட்டு மண்ணில் காலடியெடுத்து வைத்தது. இவர்களே இலங்கைக்கு வந்த முதல் றோமன் கத்தோலிக்க கன்னியாஸ்திரிகளாவர்.

யாழ்ப்பாணத்திலும் மற்றைய வட தீவுகளிலும் தமது பணியை மேற்கொண்டிருந்த திருக்குடும்பக் கன்னியாஸ்திரிகள் குருநாகல், அநுராதபுரம், வென்னப்புவ மற்றும் வடமத்திய மேற்கு மாகாணங்களின் பல நகரங்களிலும் அதிகமான பாடசாலைகளையும், மடங்களையும் ஆரம்பித்தனர். நாட்டின் திருக்குடும்ப சபையின் முடிக்குரிய ஆபரணம் போன்ற பம்பலப்பிட்டி மடமானது திகழ்ந்தது. ஆரம்பம் முதல் ஐந்து வருடங்களாக இடம்பெயர்ந்து கொண்டிருந்த இவர்கள் ஈற்றில் அவர்களது மடத்தின் பாடசாலையை நிறுவுவதற்கான ஒரு நிரந்தர இடத்தை தெரிந்து கொண்டனர். மாணவிகளின் எண்ணிக்கையும் அதிகரிக்கத் தொடங்கியது.

திருக்குடும்ப கன்னியர் மடமானது கல்வித் தகைமையிலும் மறைக்கல்வியிலும், விளையாட்டுத்துறையிலும், கலைத்துறையிலும் மேம்பட்டு பிரகாசித்ததனால் அதன் மாணவிகள் பரிசுகளையும், கேடயங்களையும் பெற்று வெற்றிவாகை சூடினர். இங்கு பல இன, மதத்தைச் சேர்ந்தவர்கள் ஒற்றுமையுடன் செயற்படுவதனால் இப்பாடசாலை ஒரு குடும்பப் பாடசாலைக்கு உதாரணமாகத் திகழ்கிறது.



## தொழில்நுட்ப விவரங்கள்

| | | |
|---|---|---|
| வெளியிடும் திகதி | : | 03 பெப்புருவரி, 2003 |
| இனப்பெறுமதி | : | ரூபா 4.50 |
| வடிவமைப்பாளர் | : | ஜெராட் அன்ட்று |
| வடிவமைப்பு | : | நிலைக்குத்தானது |
| முத்திரை அளவு | : | 30 x 41 மி.மீ. |
| அச்சீட்டு செயல்முறை | : | எதிர்ப்படி கல்லச்சுமுறை. |
| தாளமைப்பு | : | தாளொன்றுக்கு 100 முத்திரைகள் |
| துளையீடு | : | 14 |
| அச்சாளர்கள் | : | அரசாங்க அச்சுத் திணைக்களம், இலங்கை. |
| பாவிக்கப்பட்ட நிறங்கள் | : | 4 நிறங்கள் |
| தாள் | : | 102 ஜி. எஸ். எம். பாதுகாப்பான முத்திரைத்தாள் |
| பசை | : | பிவிஏ |
| அச்சடித்த தொகை | : | 10,00,000 |

Department of Posts,
Transworks House,
Colombo 00100.

The Philatelic Bureau of the Department of Posts will issue a new postage stamp in the denomination of Rs. 4.50 on 3rd February, 2003 to mark the Centenary of the Holy Family Convent, Bambalapitiya.

Holy Family Convent, Bambalapitiya was founded on February 3rd, 1903. It celebrates its 100th year on February 3rd, 2003. From small beginnings it has grown to be one of the leading Girl's schools in the Country.

The school has a proud history. The Association of the Holy Family, comprising many branches was the vision-into-action of a remarkable and saintly man, Abbe Pierre Benevenur Noailles a young priest in Bordeaux, France in 1820. He saw the whole world as one family, to be modeled on the lifeway of the Holy Family of Nazareth, Jesus, Mary, Joseph.

He also saw very clearly the need for the education of young girls and for this he founded several Schools and Convents in France, Spain, other countries in Europe and in Algeria.

Sri Lanka (Ceylon) was the first Asian Mission of the Holy Family when a small band of Sisters arrived in the Country in 1862. Their ship anchored in Galle and it was a royal procession all the way to Jaffna when they had come on a teaching mission. Abbe Noailles had been approached by Bishop Semeria from Ceylon's Northern Vicariate and the Abbe had graciously responded. His untimely death in 1861 postponed the departure of the mission by a year, but in 1862 the small band of Sisters, under their Leader and Superior, Rev. Mother Francis Xavier Machand arrived, the very first Roman Catholic nuns to step of these shores.



After Jaffna and the islands in the North, the Sisters of the Holy Family proceeded to establish more Convents and Schools in Kurunegala, Anuradhapura, Wennappuwa and several other towns in the North Central and Western Provinces, The Convent at Bambalapitiya became the "jewel in the crown" of the Holy Family Association in the Country. From the inception, even if for five years the Sisters had to move from place to place before they found a permanent site to establish their Convent School. The school grew in numbers and academic and sports successes were recorded in bright lights year after year.

## Technical Details

| | | |
|---|---|---|
| *Date of Issue* | : | 3rd February, 2003 |
| *Denomination* | : | Rs. 4.50 |
| *Designer* | : | Gerard Andree |
| *Format* | : | Vertical |
| *Stamp Size* | : | 30 x 41 mm. |
| *Printing Process* | : | Offset Lithography |
| *Sheet Composition* | : | 100 stamps per sheet |
| *Perforations* | : | 14 |
| *Printers* | : | Department of Government Printing, Sri Lanka |
| *Colours (used)* | : | 4 Process Colours |
| *Paper* | : | 102 gsm. Security Stamp Paper |
| *Gum* | : | PVA |
| *Quantity Printed* | : | 1,000,000 |